# සිංහලයනි සමඟි වෙමු!

අතිපූජ්‍ය මඩිහේ පඤ්ඤාසීහ මහානායක මාහිමිපාණන් වහන්සේ

(සිංහල සමඟිය අප මහ නා හිමි සඳුන් ගේ බොහෝ දෙසුම්වලටත් ලිපිවලටත් බෙහෙවින් ම ප්‍රස්තුත වූ කරුණෙකි. උන් වහන්සේ නොවක් ව, නිරතුරු ව පැතූ, පතන ඒ සිංහල සමඟියෙහි අගය කියාපාන එක් ලිපියෙකි මේ.)

අනාගත ශාසනාරක්‍ෂාව පිළිබඳ වැ බුදුරජාණන් වහන්සේ දුටු එක ම රට සිංහලද්වීපය යි. (ලංකාව යි) පරිනිර්වාණමඤ්චකයෙහි වැඩ සිටි බුදු රජාණන් වහන්සේ සම්බුද්ධ ශාසනය ආරක්‍ෂා වන ස්ථානය සිංහලද්වීපය බව දැන මේ රට ආරක්‍ෂා කිරීම සක්දෙව් රජුට පැවරූ බව අපේ ඉතිහාසය කියයි.

සිංහල භික්‍ෂූන් වහන්සේත් රජවරුන් ප්‍රධාන සිංහල ගිහි භවතුනුත් බුදුරජාණන් වහන්සේ ගේ බලපොරොත්තුව මෙ තෙක් නොඅඩු වැ සම්පූර්ණ කළ හ. සක්දෙව් රජ ද එතුමා ගේ නියෝගය පරිදි අනෙක් සම්‍යක්දෘෂ්ටික දෙවිවරු ද බුදුරජාණන් වහන්සේ ගේ බලාපොරොත්තුව සපුරමින් සිංහලද්වීපය හොඳින් ආරක්‍ෂා කළ හ. මේ දෙයාකාර ආරක්‍ෂාව නිසා සම්බුද්ධ ශාසනයත් සිංහල බෞද්ධයාත් මේ රටෙහි ඉහළින් ම බැබැළිණ, හොඳින් පැවැතිණ.

අතීතයෙහි අධිරාජ්‍ය තුනක් විසින් සිංහලද්වීපය ආක්‍රමණය කරන ලදි. ඒ තුන් පිරිස ම මේ රටෙහි ඔවුන් ගේ බලය පතුරුවන අතර බෞද්ධ කම නැති කරන්නට හැම බලයක් ම යෙදූවා, කරන්න පිළිවන් හැම අපරාධයක්ම කළා. එහෙත් ඔවුන් ගේ උත්සාහය අසාර්ථක විය. එ සේ වී නමුත් අනාගතයේ දී බෞද්ධකමත් එය රැකගෙන සිටින සිංහලයාත් හෙමින් නැති වී යන අයුරින් ඉතා සියුම් උපක්‍රම පිළිවෙළක් යොදන ලදි. ඒ උපක්‍රම සැකෙවින් මෙ සේ ය.

1. හැදෙන පරම්පරාව පන්සලෙන්, භික්‍ෂූන් වහන්සේ ගෙන් ඈත් කිරීමට පන්සලට සම්බන්ධ වැ තුබුණ අධ්‍යාපනය උදුරා කෙළින් ම පන්සලට විරුද්ධකාරයන් අතට පත් කිරීම.
2. වැඩිහිටි ජනතාව පන්සලෙන් ඈත් කිරීමට අවුරුදු දෙ දහස් හැත්තෑ අටක් පැවැති පොහොය නිවාඩුව නැති කොට ඉරිදා නිවාඩුව ඇති කිරීම.
3. බෞද්ධයන් භේද කිරීම, එ නම් භික්‍ෂූන් වහන්සේලා හා ගිහි බෞද්ධයන් භේදකිරීම සඳහා නොයෙක් උපක්‍රම යෙදීම.
4. මහ ගස් උඩ හැදෙන සුළු පිළිලය මහ ගහ යට කැරගෙන මතු වන්නාක් මෙන් රටෙහි මහ ජාතිය යට කැරගෙන ඉස්මතු වීම සඳහා සුළු ජාතිකයනට නොයෙක් මාර්ග සලසා දීම.

මේ උපක්‍රම සතර ම දැනට සියයට අනූවක් සාර්ථක වී ඇත. තව අවුරුදු පහළොවකින් සියය ම සාර්ථක වනු නොඅනුමාන යි. මෙන්න එයට සාධක.

සිංහලද්වීපයට පිටරටින් ධනය එන මාර්ග කිහිපයකි. එයින් සියයට අනූ හතරක් එන්නේ තේ රබර් හා පොල්වලිනි. මේ තේ, රබර්, පොල් වතු හිමියෝ කවරහු ද? අක්කරයක් තිබෙන තැනැත්තා ද වතු හිමියකු විය හැකි ය. ඔවුන් අතර අක්කර පනහකට වඩා ලොකු වතු හිමියෝ නම් සියය අසූවක් පමණ ම අසිංහල අබෞද්ධයෝ ය.

ලංකාවෙහි දැන් බොහෝ කර්මාන්ත පටන්ගෙන ඇත. රජයේ හා සංස්ථාවලට අයත් කර්මාන්ත හැරුණ විට අනෙක් ප්‍රධාන කර්මාන්තවලින් සියයට අනූවක් පමණ ම අසිංහල අබෞද්ධයන් සතු ය. තව ද නොයෙක් ආයතනවල වගකිව යුතු තනතුරුවලින් සියයට අනූවක් පමණට අසිංහල අබෞද්ධයන් සතු වැ ඇති අතර රාජ්‍ය පාලන තන්ත්‍රයේ ද වගකිව යුතු තනතුරුවලින් තව මත් සියයට හැත්තෑවක් පමණ අසිංහල අබෞද්ධයන් සතු වැ ඇත.

මේ කරුණු හොඳින් නුවණින් සලකා බලන විට රටෙක ඉතා වැදගත් අංග දෙකක් වන ආර්ථික හා පාලන යන දෙ අතින් සිංහල බෞද්ධයා සිටින්නේ ඉතා දුර්වල තැනෙක බව වැටහෙනවා ඇත.

දැනට සිංහල බෞද්ධයාට වැඩි තැනක් තිබෙන්නේ සංඛ්‍යාවෙන් පමණකි. එහෙත් එය ගණන් ගත හැකි බලයක් නො වේ. එයට සාධකයක් පෙන්වන්නෙමි. ටික කලෙකට ප්‍රථම අරාබිකරයේ රටවල් හා ඊශ්‍රායලය අතර අනියම් යුද්ධයක් ඇති විය. ජනගහණය අනුවැ බලන විට අරාබිකරයේ ඔළු ගෙඩි ලක්‍ෂයකට ඊශ්‍රායලයේ ඔළු ගෙඩි ගණන එකක් පමණ යි කිව හැකි ය. එ සේ වී නමුත් ඊශ්‍රායලය විසින් දින හයක් ඇතුළත මුළු ආබිකරය ම මර්දනය කළ සැටි කාටත් මතක ඇත.

ලංකාවෙහි ජගහණය අනුවැ තව ම සිංහලයන් ගේ බෞද්ධයන් ගේ ගණන වැඩි බව කිව යුතු ය. එහෙත් ඒ ගණනින් වැඩි බව ද තව වැඩි කලක් තිබෙන්නේ නැත. පවුල් සංවිධානය යන ව්‍යාජ නාමයකින් මේ රටෙහි මහ ජාතිය සුළු ජාතිය කිරීමේ කූටොපක්‍රම ව්‍යාපාරය පටන්ගෙන දැනට අවුරුදු පහළොවකි. මේ ව්‍යාපාරය මහ ජාතිය සුළු ජාතිය කිරීමේ හා මිනිහාට තිරිසන් ගණයෙනුත් පහළ වැටී කාම සම්පත් භුක්ති විඳින්නට මං සලසාදීමේ කූටොපක්‍රමයක් බව මා ප්‍රකාශ කළේ මීට අවුරුදු අටකට පෙර ය. තවත් සමහරු එය ම ප්‍රකාශ කළ බව බොහෝ දෙනාට මතක ඇත. දැන් එය සක් සුදක් සේ පැහැදිළි වැ පෙනෙයි.

මේ කූටොපක්‍රම ව්‍යාපාරය මෙහෙයවන්නෝ දූරදර්ශී ඥානවන්ත අසිංහල අබෞද්ධයෝ ය. එහෙත් ඔවුන් විසින් මේ කටයුත්තෙහි මූලට යොදාගනු ලැබ සිටින්නෝ අදූරදර්ශී මෝඩ සිංහල බෞද්ධයෝ ය. කොහේ හෝ වේ වා මේ ව්‍යාපාරය යම් කිසි යටි අදහසෙකින් මෙහෙයවත් ද, එය දවසින් දවස ම සාර්ථක වෙමින් පවතී.

මේ ව්‍යාපාරය පටන්ගෙන අවුරුදු පහළොවක් වුව ද මුල් අවුරුදු දහය තුළ පවත්වාගෙන ආවේ හොර රහසේ වාගේ හෙමින් ය. මෙන්න එහි ප්‍රතිඵල 1953 සිට 1963 දක්වා ඇති දස අවුරුද්ද තුළ අසිංහලයන් ගේ උත්පත්ති වැඩි වී තිබෙන අතර සිංහලයන් ගේ උත්පත්ති සියයට හතකින් අඩු වී ඇත. එයින් හයක් ම බෞද්ධයන් විය යුතු ය. දැන් එය එළි පිට ම සිංහල බෞද්ධ ප්‍රභූන් මූළා කැරගෙන පවත්වාගෙන යනු ලබන්නෙකි. එ හෙයින් 1973 දක්වා ඇති දස වර්ෂය තුළ අසිංහලයන් ගේ උපත් තවත් වැඩි වී සිංහලයන් ගේ උපත් සියයට දොළහකින් නැත් නම් නො වරදවා ම දහයකින් අඩු වනු ඇත. මේ ජාතික විනාශය ගැන නො දැන හෝ නො සලකා හෝ ලකිසුරුතුමාත් අපේ අග්‍රාමාත්‍යතුමාත් පවුල් සංවිධානයේ අගය පවසමින් පසුගියදා නිකුත් කැරතුබුණු ප්‍රකාශ ගැන අතිශය කණගාටුව ප්‍රකාශ කරමි.

**මේ රටෙහි ජනගහණයෙන් සියයට අසූවක්, සියයට හැත්තෑපහක් බෞද්ධ ය යි කියන කතාව නොයෙක් විට අසන්නට ලැබුණ කරුණෙකි. එහෙත් එය මහ මූළාවෙකි, හරියට කරුණු නො දැන කරන කතාවෙකි. 1963 වර්ෂයෙහි ගන්නා ලද සංඛ්‍යා ලේඛන අනුව මේ රටෙහි සිංහලයන් ම සිටින්නේ සියයට හැත්තෑව යි. එයින් හයක් හතක් අන්‍ය ලබ්ධිකයන් සඳහා වෙ කළ විට සිංහල බෞද්ධයන් සිටින්නේ සියයට හැට තුනක් පමණ බව නුවණැති කාටත් වැටහෙනවා ඇත. දැන් කැරගෙන යන විදියට පවුල් සංවිධානය තව අවුරුදු 15 ක් කැරගෙන ගියොත් සිංහල බෞද්ධයා සියයට පනහක් වනු ඒකාන්ත යි.**

මේ කරුණු හොඳින් නුවණින් සලකා බලන විට සිංහලයන් ගේ බෞද්ධයන් ගේ අනාගතය කොතරම් අඳුරු දැ යි වැටහෙනවා ඇත. මේ ජාතික විනාශයට හේතුව සිංහලයන් ගේ බෞද්ධයන් ගේ වාද භේද යි, අසමඟිය යි. මේ විනාශයෙන් ජාතිය බේරාගන්නට තිබෙන එක ම මාර්ගය නම් සිංහලයන් බෞද්ධයන් වාද භේද අමතක කොට සමඟි වීම යි.

අසිංහලයනට නම් සිංහලද්වීපය නැතත් තමන්ගේ ය යි කියන්නට රටවල් ඇත. එහෙත් සිංහලයාට නම් සිංහලද්වීපය හැර තමන් ගේ ය යි කියන්නට අන් රටක් නැත. එ සේ ම සිංහලයා මෙහෙන් නැති වී ගියොත් සිංහල නම් මනුෂ්‍ය වර්ගයා මුළු ලෝකයෙන් ම නැති වී යනු ඒකාන්තයි.

ඉතින් සිංහලයෙනි, බෞද්ධයෙනි, මේ මහා විනාශයට ඉඩ දී නිහඬ වැ සිටිමු ද? නැත් නම් සිංහලයාත්, සිංහලද්වීපයත් රැකගනිමු ද? සිංහල ලේ ඇති සිංහල කොල්ලකු හෝ කෙල්ලක හෝ සිංහලයා ගේ විනාශයට කැමැති නොවනු ඒකාන්ත යි.

මේ මහා විනාශයට ප්‍රධාන හේතුව වී තිබෙන්නේ නිදහස ලැබුණු දා පටන් ම සිංහලයා පක්‍ෂ දේශපාලනයෙන් බෙදීසිටීම යි. දැන් එළැඹ ඇත්තේ එහි උග්‍ර අවස්ථාව යි. එය කොපමණ උග්‍ර වුවත් මී ළඟ මැතිවරණයට පෙර ඔවුන් සමඟි කරවාගත යුතු ම ය.

සාමාන්‍ය ක්‍රමයට මී ළඟ මැතිවරණය එන්නේ 1970 වැන්නෙහි ය. ආරංචි ලැබෙන හැටියට ජය ලැබීමට ආණ්ඩු පක්‍ෂයත් විරුද්ධ පක්‍ෂයත් එක හා සමාන බලාපොරොත්තු ඇති වැ සිටියත් දැනට පෙනෙන කරුණු අනුව නම් තනි වැ ම ආණ්ඩුවක් පිහිටුවීමට වුවමනා ආසන 75 ක් දිනාගැනීම කිසිවකුට නොහැකි වනු නොඅනුමාන යි. ඉතින් සිදු වන්නේ කුමක් ද? ඉතින් නම් අපේ උදව් නැති වැ සිංහලයා රජකම් කරන්නේ නැතැ යි පෙඩරල් නාද කරන 14 දෙනා පස්සේ දිවීම යි. ගිය මැතිවරණය අවසානයේ දීත් එ වකට සිටි ආණ්ඩු පක්‍ෂයත් විරුද්ධ පක්‍ෂයත් කළේ අර 14 දෙනා පස්සේ දිවීම යි. එදා ඔවුන් දෙ පක්‍ෂය ම දහ අට වරම් ඉදිරිපත් කරන්නට ඇති. දෙ පක්‍ෂය ම දහ අට වරම් බාරගන්නත් ඇති. ඒ වේලාවේ ඔවුන් හිතන්නට ඇත්තේ එක වරක් මොවුන් සමඟ එක් වී ඔවුනට පයින් ගසා පන්නා දැම්මා. මේ වර ඔවුන් සමඟ එක් වී මොවුනට පයින් ගසා පන්නා දමමු යනු යි. එය ම සිදු විය.

ලබන මැතිවරණය අවසානයෙහි සිදු වන්නේත් එය ම යි. එක පක්‍ෂයකට වත් ආසන 75 ක් දිනාගත නොහැකි වනු ඇත. ගියවර මෙන් වැඩි ආසන ගණනක් දිනාගත් පක්‍ෂය අර 14 දෙනා සොයා යනු ඒකාන්ත යි. මෙ ලෙසින් ඒ 14 දෙනා කරන්නේ වරකට මේ පැත්ත අල්ලාගෙන ඒ ආණ්ඩුවත් ඒ පැත්ත අල්ලාගෙන මේ ආණ්ඩුවත් පෙරළීම යි. ඒ අතර ඔවුහු දවසින් දවස දියුණු වෙති, බලවත් වෙති. සිංහලයා දවසින් දවස ම පිරිහෙයි. මේ යන විදියට ම ඉඩ දුන්නොත් තව අවුරුදු පහළොවකින් සිංහලයා ආර්ථික වශයෙන් පමණක් නො වැ ජනගහණයෙන් ද පිරිහී උතුරේ හරිජනයා ගේ ගණනට වැටෙනු නොඅනුමාන ය.

මේ මහා විනාශයෙන් සිංහල වර්ගයා බේරාගන්නට කළ යුතු එක ම දේ නම් සිංහල නමින් පෙනී සිටින අය ජාති භේද, ආගම් භේද, පළාත් භේද, පක්‍ෂ දේශපාලන භේද සියල්ල ම අමතක කොට සමඟි වීම යි. බලතෘෂ්ණාවෙන් මත් වී සිටින සමහරුනට සමඟි වන්න යන වචනය පවා නයාට අඳු කොළ මෙන් විෂ විය හැකි ය. එ සේ වුවත් ඒ අදහස රට පුරා නැංවිය යුතු ය. මේ අදහස ක්‍රියාවට නැංවිය හැක්කේ මහජනයාට යි. **මා මේ සමඟි කථාව කියන්නේ අවුරුදු දහයක පමණ කාලයක සිට ය. එදා අපේ ජන ප්‍රධානීන් මේ අදහස බාරගෙන ක්‍රියාවට නැංවූවා නම් අද සිංහල ජාතියත් ආරක්‍ෂා වී දියුණු වී සිංහලද්වීපයත් ස්වර්ග රාජ්‍යය මෙන් බැබළෙනු ඒකාන්ත යි. මේ සමඟිය තවත් පමා වුවොත් සිංහලයාට ඔළුව ඔසොවන්නට ලැබෙන්නේ නැත. පසු වැ සමඟි වන්නට සිතීම අණුවණකමක් වනු ඇත.**

සිංහලයා ගේ අසමඟියට ප්‍රධාන හේතුව වී තිබෙන්නේ පක්‍ෂ දේශපාලනය යි. සිංහලයෙනි, අප ආරක්‍ෂා කළ යුත්තේ දේශපාලන පක්‍ෂය ද? නැත හොත් සිංහල ජාතිය ද? දේශපාලන පක්‍ෂ ආරක්‍ෂා කරන්නට ගියොත් සිංහල ජාතිය විනාශ වී යනවා යනවා ම යි. සිංහල ජාතිය ආරක්‍ෂා කළොත් දේශපාලන පක්‍ෂ හදාගත හැකි ය.

මේ කරුණු හොඳින් නුවණින් සලකා බලා සිංහලයන් සමඟි විය යුතු ය යන හඬ බලවත් ලෙස ම නැංවිය යුතු ය. මේ සමඟි හඬ බලවත් ලෙස ම නැඟුණොත් දේශපාලන ප්‍රධානීන් මහජන හඬට හිස නමනු ඒකාන්ත යි. එ සේ හිස නමන තෙක් ම අපේ හඬ නැංවීම නො නවත්වා ම කළ යුතු වේ.

රිවිරැස 1968.07.02
ප්‍රඥාප්‍රභා 1

යතුරුලිවීම: සැන්ටා ටයිප්සෙටින්